# බෞද්ධ ධර්මාචාර්ය විභාගය 2012 (2013)

## (02) බෞද්ධ විනය මාර්ග හා පාලි භාෂා පරිචය

### I කොටස

(කාලය :පැය 03 යි.)

**සැ.යු. : I කොටසේ ප්‍රශ්නවලට පිළිතුරු මෙම ප්‍රශ්න පත්‍රයේම ලියා කොටස් පිළිතුරු සමඟ අමුණා ශාලාධිපතිට භාරදෙන්න.**

01. i) වැරදි පිළිතුර වරහන් තුළින් තෝරා තනි ඉරකින් කපා හරින්න.

(අ) බුද්ධ කාලයේ විසූ ශාස්තෘවරුන් අතුරින් ආජීවක සම්ප්‍රදායේ නායකයා ලෙස (නිගණ්ඨනාථපුත්ත මක්ඛලී ගෝසාල) සලකනු ලැබේ.

(ආ) සිදුහත් තවුසාණෝ (චිත්ත ඒකාග්‍රතාවය / ක්ලේශප්‍රහාණය) මගින් සම්‍යක් සම්බෝධිය ලැබූහ.

(ලකුණු 02 යි)

ii) (අ) පස්වග භික්ෂූන් වහන්සේලා නිර්වාණය සාක්ෂාත් කරගත අනිත්‍ය,දුක්ඛ, අනාත්ම ලක්ෂණ විස්තර කර (චුල්ලහත්ථිපදෝපම සූත්‍ර දේශනාව / අනත්තලක්ඛණ සූත්‍ර ධර්ම දේශනාව ) ශ්‍රවණය කිරීමෙනි.

(ආ). යසකුල පුත්‍රයා තුළ (ශ්‍රද්ධාව / කලකිරීම ) ඇති කිරීමෙන් පසු බුදුරජාණන් වහන්සේ ඔහුට දහම් දෙසූ සේක.

(ලකුණු 02 යි)

iii) (අ) ජනතාව පූර්ණ සේවාවක් කළ හැක්කේ (දැන උගත් / සියලු බැඳීම් වලින් මිදුණු) අයකුට බව ප්‍රථම ධර්ම දූත පිරිසට බුදුරජාණන් වහන්සේ දුන් උපදෙස් තුළින් ප්‍රකට වෙයි.

(ආ). භික්ෂූන් වහන්සේලාට ලාභ සත්කාර වැඩි වශයෙන් ලැබීම භික්ෂු සමාජයේ (දූෂණයට / අභිමානයට) හේතුවන බව විනය පිටකයෙහි දැක්වේ.

(ලකුණු 02 යි)

vi) (අ) මහල්ලෙකු තරුණියක සරණපාවා ගැනීමට දියුණුවට හේතු නොවන බව සඳහන් වන්නේ (වසල/ පරාභව ) සූත්‍රයේය.

(ආ) ව්‍යග්ඝපජ්ජ සූත්‍රයෙහි සම ජීවිකතා නමින් දක්වා ඇත්තේ (ධාර්මික දිවි පැවැත්මයි/ සමබර අය වැයක්)

(ලකුණු 02 යි)

v) නිවැරදි පිළිතුර වරහන් තුළින් තෝරාගෙන හිස්තැන් පුරවන්න.

(අ) ...................................................... (තම්බදාඨික / කාලි යක්ඛිනි) කථා ප්‍රවෘත්තියෙන් වෛරයෙන් වෛරය නොසන්සිඳෙන බව ප්‍රකටවෙයි.

(ආ) මිනිසුන් අතර ඇතිවන විවිධ අදහස් දෙවි බඹුන් පවා සාකච්ඡා කළ බව .................................... (මංගල / ධම්මික ) සූත්‍රය පිළිබඳ විමසීමෙන් පැහැදිලි වෙයි.

(ලකුණු 02 යි)

vi) (අ) තවුසා කෙරෙහි සෙනෙහසින් බැඳුණ නා රජු ................................................................... (දරණ වලින් තවුසා වෙලාගත් බව / ගෙලේ බැඳි මැණික තවුසාට දුන් බව ) මණිකණ්ඨ ජාතකයෙහි සඳහන් වෙයි.

(ආ) මුල්ම අසුන , මුල්ම පැන්, මුල්ම ආහාර, ලැබිය යුත්තේ....................................................... (රහතන් වහන්සේ / වැඩිමහල් භික්ෂුව) බව තිත්තිර ජාතක කථාවෙන් පෙනේ

(ලකුණු 02 යි)

vii) වරහන් තුළ ඇති නිවැරදි පිළිතුර යටින් ඉරක් අඳින්න.

(අ) සාලිකේදාර ජාතකයෙහි සඳහන් වන ලෙස "ඉඹුල් වනයට පැමිණ එහි නිධානයක් ද පිහිටුවමි" යයි බෝසත් ගිරවා ප්‍රකාශ කළේ පින් කැමැත්තෙන් (ඉතා දුබල කුරුලලන්ට / මහලු මව්පියන්ට) ආහාර දෙන බවයි.

(ආ) (සැරියුත් තෙරුන් වහන්සේට සෙනසුන් ලබා නොදීම / නෑයන්ගේ යහපත පිණිස ක්‍රියාකිරීම) මුල් කොට බුදුරජාණන් වහන්සේ විසින් මහා කපි ජාතකය දේශනා කළ සේක.

(ලකුණු 02 යි)

viii) සිංහලයට නගන්න

(අ) අබේර්යා සම්මන්ති - ඒස ධම්මො සනනතනො

.......................................................................................................................

.......................................................................................................................

(ආ) අත්තනොව අවෙක්ඛෙය්‍ය - කතානි අකතානි ච

.......................................................................................................................

.......................................................................................................................

(ලකුණු 04 යි)

ix පහත සඳහන් අදහස ඇති ධම්මපද ගාථා ලියන්න.

(අ) සිදුරු නැතිව එකසේ ඝන වූ පර්වතය සුළඟින් නොසැලෙන්නේ යම් සේද, මෙන්ම නුවණැත්තෝ නින්දා ප්‍රශංසාවන්හි කම්පා නොවෙති.

.......................................................................................................................

.......................................................................................................................

.......................................................................................................................

.......................................................................................................................

(ආ) එක් ගාථා පදයක් අසා කෙලෙස් සංසිඳේ ද, අනර්ථය පිණිස වන ගාථා දහසකටත් වඩා ඒ ගාථා පදය උතුම්ය.

.......................................................................................................................

.......................................................................................................................

.......................................................................................................................

.......................................................................................................................

(ලකුණු 04 යි)

x) "අ" කොටසේ යෙදුමට ගැළපෙන යෙදුම "ආ" කොටසෙන් තෝරා හිස්තැන් තුළ ලියන්න.

| "අ" | | "ආ" |
|---|---|---|
| අත්තානං දමයන්ති පණ්ඩිතා | ............................................ | නුවණැත්තෝ තමන් දමනය කර ගනති |
| ලකුණ්ටකභද්දිය තෙරුන් | ............................................ | බරණැස බඹදත් රජු |
| කෝසිය සිටුවරයා | ............................................ | වැඩිහියන් පිදීම |
| පුෂ්පක ගිරවා | ............................................ | මසුරු තැනැත්තා |
| අඹත් වඳුරු මසුත් කමු | ............................................ | ඉතා මිටි සිරුරක් ඇත්තෙකි |
| තින්තිර ජාතකය | ............................................ | තවුසන් සමඟ විසීම |

(ලකුණු 06 යි)

## 2557 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2012 (2013)

S 2

### (02) බෞද්ධ විනය මාර්ගය හා පාලි භාෂා පරිචය

(එක් කොටසකින් ප්‍රශ්න දෙක බැගින් තෝරාගෙන ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) "කිං කුසල ගවේසී." යන්නෙහි අදහස දක්වන්න. (ලකුණු 04 යි)
   (ii) උපතිස්ස පිරිවැජියාට අස්සජි හිමි හමුවීමේ පුවත විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (iii) ශාසනය ක්‍රමයෙන් වර්ධනය වන මුල් යුගයේ භික්ෂූන් වහන්සේගේ ස්වභාවය අගය කරන්න. (ලකුණු 08 යි)

3. (i) පැවිද්දට නුසුදුසු පුද්ගලයන් සතර දෙනෙකු නම් කරන්න. (ලකුණු 04 යි)
   (ii) "එහි භික්ඛු" පැවිද්ද හා "සරණාගමන" පැවිද්ද පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) භික්ෂු සමාජයේ ගුරු ශිෂ්‍ය සම්බන්ධය බුද්ධ දේශනාවට අනුව ක්‍රියාත්මක වන ආකාරය අගය කරන්න. (ලකුණු 08 යි)

4. (i) භික්ෂූන් වහන්සේලාගේ "උපොසථ කර්මය" හා බැඳුණු "උපොසථ" දින සතර නම් කරන්න. (ලකුණු 04 යි)
   (ii) "උපොසථය" සඳහා සංඝයා රැස්වීමට පෙර සිදුකළ යුතු 'පුබ්බකරණ' පිළිබඳ කෙටි විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)
   (iii) පිළිවෙතින් පෙළගැසීමේ තේමාව අර්ථවත් කිරීමට අගාරිකවත මග පෙන්වයි. විස්තර කරන්න. (ලකුණු 08 යි)

5. (i) සිගාලෝවාද සූත්‍රයෙහි දක්වෙන සතර කර්ම ක්ලේශ නම් කරන්න. (ලකුණු 04 යි)
   (ii) මෙම සතර කර්ම ක්ලේශ මගින් පුද්ගලයා තුළ කෙලෙස් දහම් වැඩෙන අයුරු කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) සිගාලෝවාද සූත්‍රයෙහි දැක්වෙන භෝග විනාශ මුඛ සතරක් දක්වා නූතන මිනිසාගේ පිරිහීමට ඒවා කෙතෙක් බලපා ඇත්දැයි පහදා දෙන්න. (ලකුණු 08 යි)

6. (i) මෙලොව දියුණුවට හේතුවන ධර්ම කරුණු ඇතුළත් ධම්මපද ගාථාවක් ලියන්න. (ලකුණු 04 යි)
   (ii) එම ධම්මපද ගාථාවේ ඉගැන්වෙන ධර්ම කරුණු පිළිපැදීම මිනිසාගේ දියුණුවට හේතුවන ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) සමාජගත දුබලතා මෙන්ම විශිෂ්ටතා ද ජාතක කථා තුළින් ප්‍රකට වෙයි. විස්තර කරන්න. (ලකුණු 08 යි)

### III කොටස

7. (i) සිංහලට නගන්න.
   (අ) "මාතා පිතා දිසා පුබ්බා - ආචරියා දක්ඛිණා දිසා"
   (ආ) "එකං සමයං භගවා කොලියෙසු විහරති; කක්කර පත්තං නාම කොලියානං නිගමො"
   (ඉ) "ධම්මකාමො භවං හොති - ධම්මදෙස්සී පරාභවො"
   (ඊ) "අථායස්මා මහාකස්සපො ආළවිං උපසඞ්කමිත්වා පිණ්ඩාය පාවිසි" (ලකුණු 08 යි)

   (ii) මෙම වාක්‍ය පාලියට නගන්න.
   (අ) එකත් පසෙක සිටි ඒ දේවතාවා භාග්‍යවතුන් වහන්සේට ගාථාවකින් මෙසේ ප්‍රකාශ කළේය.
   (ආ) තෙවනුව ද බුදුන් සරණයමි'යි රජතුමා කීවේය.
   (ඉ) මව්පියන්ට උපස්ථාන කිරීම ද, දන්දීම ද යන මේවා උතුම් මංගල කරුණු වේ.
   (ඊ) එක් කලෙක භාග්‍යවතුන් වහන්සේ ජේතවනාරාමයෙහි වැඩවසන සේක.
   (උ) මව ද පියා ද පුතා ද විහාරයට ගොස් බුදුන් වදිති. (ලකුණු 10 යි)

[හතරවන පිටුව බලන්න.

8. (i) මෙම පාඨය සිංහලට නගන්න.

අතීතෙ රාජගහෙ මගධ රාජා නාම රජ්ජං කාරෙති. තදා නගරතො පුබ්බන්තරාය දිසාය සාලින්දියො නාම බ්‍රාහ්මණ ගාමො අහොසි. තස්ස පුබ්බන්තරාය දිසාය මගධඛෙත්තං. තත්ථ කොසියගොතත්තා නාම සාලින්දියවාසී බ්‍රාහ්මණො සහස්ස කරීසමත්තං ඛෙත්තං ගහෙත්වා සාලිං වපාපෙසි. *(ලකුණු 08 යි)*

(ii) සාලිකේදාර ජාතක කථාව ඇසුරෙන් මව්පිය උපස්ථානයේ අගය පහදන්න. *(ලකුණු 10 යි)*

9. (i) මෙම පාලි ගාථා සිංහලට නගන්න.

(අ) අසේවනාච බාලානං - පණ්ඩිතානං ච සේවනා
පූජා ච පූජනීයානං - ඒතං මංගල මුත්තමං

(ආ) අසන්තස්ස පියා හොන්ති - සන්තේ න කුරුතේ පියං
අසතං ධම්මං රොචේති - තං පරාභවතො මුඛං

*(ලකුණු 08 යි)*

(ii) පුද්ගලයකුගේ ජීවිතය කෙරෙහි ඇසුර බලපාන අයුරු පහදා දෙන්න. *(ලකුණු 10 යි)*

10. (i) මෙම පාලි පාඨය සිංහලට නගන්න.

පඤ්චහි ඛො ගහපතිපුත්ත, ඨානෙහි කුලපුත්තෙන උපරිමා දිසා සමණබ්‍රාහ්මණා පච්චුපට්ඨාතබ්බා, මෙත්තේන කාය කම්මෙන, මෙත්තේන වචී කම්මේන, මෙත්තේන මනො කම්මේන, අනාවටද්වාරතාය, ආමිසානුප්පාදානෙන, ඉමෙහි ඛො ගහපතිපුත්ත, පඤ්චහි ඨානේහි කුලපුත්තේන උපරිමාදිසා සමණබ්‍රාහ්මණා, පච්චුපට්ඨිතා, ඡ හි ඨානෙහි කුලපුත්තං අනුකම්පන්ති. *(ලකුණු 08 යි)*

(ii) මනා ගිහි පැවිදි සම්බන්ධය තුළින් අර්ථවත් වන සමාජය පිළිබඳව විමසීමක් කරන්න. *(ලකුණු 10 යි)*

* * *